**2560 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2015 (2016)**

**S 4**

**(04) බෞද්ධ ඉතිහාසය හා සංස්කෘතිය**

(ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

**II කොටස**

2\. (i) සර්වාස්තිවාද නිකායේ උන්නතිය උදෙසා කණිෂ්ක රජුගෙන් සිදු වූ සේවය පහදන්න. *(ලකුණු 06 යි)*

(ii) කණිෂ්ක පාලන සමයේ දී කළ සංගායනාවේ දී කීර්තිධර ලේඛකයකු වූ අශ්වඝෝෂ හිමියන්ගෙන් සැලසුණු සේවය විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

(iii) "බෞද්ධ ඉතිහාසය හා සාහිත්‍යය අතින් සලකන කළ කණිෂ්ක සංගායනාව අතිශය වැදගත් තැනක් උසුලයි." මේ අදහස විමර්ශනය කරන්න. *(ලකුණු 06 යි)*

3\. (i) මහායාන බුදුසමයෙහි දාර්ශනික හා ආගමික අංශ යටතේ අවධානයට පාත්‍ර වන ඉගැන්වීම් ගැන හැඳින්වීමක් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) මහායාන බුදුදහමෙහි ඉගැන්වෙන "බෝධිචිත්තය" ගැන හැඳින්වීමක් කරන්න. *(ලකුණු 06 යි)*

(iii) අමිතාභ බුදුන් ආශ්‍රිතව පවත්නා ඇදහිලි හා විශ්වාස ගැන සමාලෝචනයක් කරන්න. *(ලකුණු 06 යි)*

4\. (i) භාරතයේ වික්‍රමශිලා විශ්ව විද්‍යාලයේ පැවති අධ්‍යාපන තත්ත්වය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(ii) මෙම විශ්ව විද්‍යාලයේ ප්‍රවේශ පරීක්ෂණය භාර වූ ද්වාර පණ්ඩිතවරුන් හඳුන්වා, ඔවුන්ගේ කාර්යභාරය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(iii) වික්‍රමශිලා විශ්ව විද්‍යාලයෙහි අධිපතිභාවය ඉසිළූ ශ්‍රී ඥාන හෙවත් අතීශ හිමියන් ගැන හැඳින්වීමක් කරන්න. *(ලකුණු 06 යි)*

5\. (i) "අට්ඨකථා" යන්නෙහි අරුත් පැහැදිලි කරමින් දීඝ, මජ්ඣිම, සංයුත්ත හා අංගුත්තර අටුවා හැඳින්වෙන සංඥා නාම පිළිවෙළින් දක්වන්න. *(ලකුණු 06 යි)*

(ii) අභිධර්ම පිටකයට අයත් ග්‍රන්ථ සඳහා ලියූ අටුවා හැඳින්වෙන සංඥා නාම ලියා දක්වන්න. *(ලකුණු 06 යි)*

(iii) හෙළටුවා යනු කවරේ දැයි පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

6\. (i) 18 වන සියවසේ දී තායිලන්ත (සියම්) දේශයේ අනුග්‍රහයෙන් ශ්‍රී ලංකාවේ ස්‍යාමෝපාලි මහා නිකායේ ආරම්භය හා උපසම්පදා විනයකර්මය සිදු කිරීම පිළිබඳ විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) තායිලන්තයට බුදුසමය හඳුන්වා දෙනු ලැබුයේ ධර්මාශෝක රාජ්‍ය සමයේ භාරතයේ සිට වැඩම කළ ධර්ම දූතයන් මගින් බව තහවුරු කෙරෙන සාධක කවරේදැයි හඳුන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

(iii) ථෙරවාද බුදු දහම ව්‍යාප්තව පවත්නා අග්නිදිග ආසියාතික රටවල් පිළිබඳ හැඳින්වීමක් කරන්න. *(ලකුණු 06 යි)*

7\. (i) ප්‍රාග් මහින්ද යුගයේ දී මළගියවුන් පිළිබඳ විශ්වාසය සමාජයේ පැවති බව තහවුරු කෙරෙන සාධක විමර්ශනය කරන්න. *(ලකුණු 06 යි)*

(ii) සත්ත්ව ඝාතනය වළක්වා සතුන් කෙරෙහි කරුණාව දැක්වීමට මහජනතාව යොමු කළ ශ්‍රී ලාංකේය රජවරු පිළිබඳ විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

(iii) බුද්ධ ශාසනයේ දියුණුව උදෙසා වළගම්බා රජතුමාගෙන් ඉටු වූ සේවය ඇගයීමට ලක් කරන්න. *(ලකුණු 06 යි)*

8\. (i) බෞද්ධ ස්තූප නිර්මාණයේ ආරම්භය හඳුන්වා, ප්‍රාග් මහින්ද යුගයේ දී ශ්‍රී ලංකාවේ නිර්මාණය කරන ලදැයි සැලකෙන ස්තූප ගැන විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) බෞද්ධ ස්තූපයක ඇතුළත් විය යුතු අංගෝපාංග කවරේ දැයි විමර්ශනය කරන්න. *(ලකුණු 06 යි)*

(iii) විවිධ ස්තූප වර්ග හඳුන්වා, ඒවායේ හැඩයන් නිදසුන් මගින් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

***